ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Adv. Level) Examination, 2023 (2024)

සන්නිවේදනය හා මාධ්‍ය අධ්‍යයනය I
தொடர்பாடலும் ஊடகக் கற்கையும் I
Communication and Media Studies I

29 S I

පැය දෙකයි
இரண்டு மணித்தியாலம்
Two hours

**උපදෙස්:**

- **සියලු ම** ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.
- උත්තර පත්‍රයේ නියමිත ස්ථානයේ ඔබේ **විභාග අංකය** ලියන්න.
- උත්තර පත්‍රයේ පිටුපස දී ඇති උපදෙස් ද සැලකිල්ලෙන් කියවා පිළිපදින්න.
- **1** සිට **50** තෙක් එක් එක් ප්‍රශ්නයට (1), (2), (3), (4), (5) යන පිළිතුරුවලින් **නිවැරදි හෝ ඉතාමත් ගැළපෙන හෝ** පිළිතුර තෝරාගෙන, එය **උත්තර පත්‍රයේ පිටුපස දැක්වෙන උපදෙස් පරිදි කතිරයක්** (×) යොදා දක්වන්න.

**1.** සංදේශයක අන්තර්ගතය අවබෝධ කර ගැනීමේ ක්‍රියාවලිය,
(1) ආකේතකරණයයි.
(2) විකේතනකරණයයි.
(3) සංජානනයයි.
(4) පරිකල්පනයයි.
(5) ශ්‍රවණයයි.

**2.** ස්ව සංකල්පය ගොඩනැඟීමට උපකාරී වන සන්නිවේදන වර්ගය වන්නේ,
(1) අන්තර්වර්ති පුද්ගල සන්නිවේදනයයි.
(2) අන්තර් පුද්ගල සන්නිවේදනයයි.
(3) දෘශ්‍ය සන්නිවේදනයයි.
(4) ශ්‍රව්‍ය සන්නිවේදනයයි.
(5) ජනසන්නිවේදනයයි.

**3.** ශ්‍රී ලංකාවේ පවතින අස්පර්ශ්‍ය සංස්කෘතික උරුමයක් ලෙස සැලකිය හැක්කේ කුමක් ද?
(1) වැව්
(2) දාගැබ්
(3) ජන ගී
(4) මූර්ති
(5) ඉපැරණි නටබුන්

**4.** ජනමාධ්‍ය හා ග්‍රාහකයා අතර සම්බන්ධතාවක් ගොඩනැගෙන්නේ,
(1) නිර්මාණය නිසා ය.
(2) සංදේශය නිසා ය.
(3) ආකර්ෂණය නිසා ය.
(4) අභිප්‍රේරණය නිසා ය.
(5) සහවේදනය නිසා ය.

**5.** සන්නිවේදන වර්ග පැහැදිලිව වෙන්කරගත හැක්කේ,
(1) අවස්ථාව අනුව ය.
(2) සංවිධානය අනුව ය.
(3) සංඛ්‍යාව අනුව ය.
(4) කාලය අනුව ය.
(5) පුද්ගල චර්යාව අනුව ය.

**6.** සන්නිවේදනයේ ස්වභාවය වඩාත් නිශ්චිත ලෙස පැහැදිලි කෙරෙන ප්‍රකාශය කුමක් ද?
(1) සන්නිවේදනය ක්‍රියාපටිපාටියකි.
(2) සන්නිවේදනය ද්විමාර්ගික ය.
(3) සන්නිවේදනය බාධක සහිත ය.
(4) සන්නිවේදනය වාචික ය.
(5) සන්නිවේදනය ප්‍රතිපෝෂණය මත රඳා පවතියි.

**7.** සමාජ ස්ථායීතාව පවත්වා ගෙන යාම සඳහා ජනමාධ්‍ය මගින් ඉටු කළ යුතු කාර්යය වන්නේ,
(1) අර්ථකථනයයි.
(2) සුපරීක්ෂණයයි.
(3) පෙළඹවීමයි.
(4) සහසම්බන්ධතාවයි.
(5) විනෝදාස්වාදයයි.

8. ශ්‍රී ලංකාව තුළ පළමුවරට සන්නිවේදන විෂය ක්ෂේත්‍රයට අදාළ පාඨමාලාවක් <u>විධිමත්</u> ලෙස හඳුන්වාදීමට මුල් වූ ආයතනය කුමක් ද?

(1) මරදාන කාර්මික විද්‍යාලය
(2) දෙහිවල කණිෂ්ඨ විශ්වවිද්‍යාලය
(3) රජයේ ප්‍රවෘත්ති දෙපාර්තමේන්තුව
(4) ශ්‍රී ලංකා පුවත්පත් මණ්ඩලය
(5) කැලණිය විශ්වවිද්‍යාලය

9. සමාජයක සිදුවිය හැකි ආපදා හා අනතුරු කල් තබා දැනුම් දී, ඒ පිළිබඳ සාකච්ඡාවක් ගොඩනැගීමේ ජනමාධ්‍ය කාර්යභාරය කුමක් ද?

(1) සුපරීක්ෂණය
(2) සහසම්බන්ධය
(3) අර්ථකථනය
(4) විසරණය
(5) සමාජානුයෝජනය

10. සංවර්ධනය යනු මානව සංවර්ධනය මිස ද්‍රව්‍යමය සංවර්ධනය නොවන බව ප්‍රකාශ කළ විද්වතා කවුද?

(1) ඩඩ්ලි සියර්ස්
(2) මහත්මා ගාන්ධි
(3) එඩ්ගා ඕවන්ස්
(4) එවරට් එම්. රොජර්ස්
(5) ශ්‍රීනිවාස් මෙල්කොට්

11. නිර්මාණාත්මක චින්තනයට අදාළව ග්‍රැහැම් වොලස් විසින් දක්වන ලද අදියර අතරට අයත් වන්නේ මින් කුමක් ද?

(1) සංවේදනයයි.
(2) පරිකල්පනයයි.
(3) සංජානනයයි.
(4) නිරූපණයයි.
(5) සත්‍යාපනයයි.

12. සංදේශයක් අවබෝධ කර ගැනීම හා අර්ථකථනය කරගැනීම අයත් වන්නේ,

(1) විචාරයට ය.
(2) විශ්ලේෂණයට ය.
(3) සාක්ෂරතාවට ය.
(4) ඇගයීමට ය.
(5) පරිහරණයට ය.

13. ප්‍රමාණවත් ලෙස කාලීන තොරතුරු අන්තර්ගත **නොවන** මාධ්‍ය ද්විත්වය කුමක් ද?

(1) ගුවන්විදුලිය හා රූපවාහිනිය
(2) රූපවාහිනිය හා සිනමාව
(3) සිනමාව හා පුවත්පත
(4) පුවත්පත හා සඟරාව
(5) සඟරාව හා පොත

14. පසුගිය සතියේ සෑම මාධ්‍යයකින්ම ඩෙංගු රෝගය පිළිබඳ ප්‍රවෘත්ති වැඩි සංඛ්‍යාවක් වාර්තා කෙරුණි. මෙය

(1) මාධ්‍ය විස්තාරණයකි.
(2) මාධ්‍ය බලපෑමකි.
(3) මාධ්‍ය ඝෝෂාවකි.
(4) මාධ්‍ය ප්‍රතිපෝෂණයකි.
(5) දොරටුපාලනයකි.

15. සංවර්ධන ක්‍රියාවලියේ දී කණ්ඩායම් අතර සමාන අත්දැකීම පසුතලයක් පැවතීම ව්‍යාපෘතිය වඩාත් සාර්ථක කර ගැනීමට පහසුවක් බව කෘෂිකර්ම ගුරුවරයා පන්තියේ දී පැවසී ය. සන්නිවේදන නිර්වචනවලට අනුව, මෙම අදහස වඩාත් අදාළ වන්නේ,

(1) හැරල්ඩ් ඩී. ලැස්වෙල්ට ය.
(2) විල්බර් ශ්‍රාම්ට ය.
(3) එඩ්වඩ් සැපීර්ට ය.
(4) ක්ලෝඩ් ෂැනන්ට ය.
(5) චාල්ස් කූලිට ය.

16. මාධ්‍ය සාක්ෂරතාව පිළිබඳ **සදොස්** ප්‍රකාශය තෝරන්න.

(1) එය බහුමානීය සංකල්පයකි.
(2) සංජානනය කරන තොරතුරු මත පදනම් වේ.
(3) චින්තනමයී, සෞන්දර්යාත්මක සහ සදාචාරමය පැතිකඩ ද වැදගත් වේ.
(4) මාධ්‍යයට බහුල ලෙස නිරාවරණය වීම මත පදනම් වූවකි.
(5) ස්වෝත්සාහයෙන් වර්ධනය කර ගත හැකි ය.

17. ලියනාඩෝ ඩා වින්චි විසින් ඉදිරිපත් කරන ලද නිර්මාණශීලිත්වයේ මූලිකාංග පමණක් දැක්වෙන වරණය කුමක් ද?

(1) කුතුහලය, සත්‍යාභ්‍යාසය, සම්බන්ධතා
(2) සධූගමනය, සංජානනය, සංවේදනය
(3) සම්බන්ධතා, සංවේදනය, සධූගමනය
(4) සුවිදර්ශනය, සංජානනය, කුතුහලය
(5) සංවේදනය, සත්‍යාභ්‍යාසය, ප්‍රස්තුත ගවේෂණය

[ අනෙක් පිටුව බලන්න

18. නව මාධ්‍ය ප්‍රවණතා තුළින් ග්‍රාහකයාගේ භූමිකාව වෙනස් වී තිබේ. මෙම ප්‍රකාශයට වඩාත් ගැළපෙන වරණය තෝරන්න.
(1) ග්‍රාහකයා සක්‍රීය පරිශීලකයෙකු බවට පත්ව ඇත.
(2) ග්‍රාහකයා නව තාක්ෂණය භාවිතයට හුරු වී තිබේ.
(3) ග්‍රාහකයා ඇණවුම් කර මාධ්‍ය අන්තර්ගත ලබා ගන්නා පාරිභෝගිකයෙකි.
(4) ග්‍රාහකයා ඇතැම් විට සක්‍රීයව මාධ්‍ය අන්තර්ගතය ගොඩනගයි.
(5) ග්‍රාහකයා දොරටුපාලක බලපෑමෙන් තරමක් දුරට නිදහස් වී තිබේ.

19. සිය පර්යේෂණය සඳහා පැරණි පුවත්පත් කිහිපයක් පරිශීලනය කිරීමට සිසුවෙකුට අවශ්‍ය විය. පුස්තකාලයකට නොගොස් නිවසේ සිටම වෙබ් අඩවි මගින් අදාළ තොරතුරු ලබා ගැනීමට ඔහුට හැකි විය. මෙම ක්‍රියාවලිය සඳහා උපකාරී වූයේ නව මාධ්‍යයේ කවර ලක්ෂණය ද?
(1) ජාලගතකරණය
(2) අධිපාඨනියත්වය
(3) වෙබගත සංදේශකරණය
(4) දත්ත සංචිත
(5) ස්වයංකරණය

20. ප්‍රසිද්ධ රැඟුම් පාලක මණ්ඩලයේ ප්‍රධාන වර්ගීකරණ සහතික තුන ඇතුළත් වරණය තෝරන්න.
(1) X, U, B
(2) S, M, R
(3) U, X, A
(4) H, U, B
(5) A, X, R

21. අලුත් අවුරුදු උදාව නිමිති කොටගෙන එක්තරා රූපවාහිනී නාලිකාවක් මගින් සංගීත සන්දර්ශනයක් සංවිධානය කර තිබිණි. මෙම සංගීත සන්දර්ශනය අයත් වන සන්නිවේදන වර්ගය කුමක් ද?
(1) කණ්ඩායම් සන්නිවේදනයයි.
(2) අන්තර් සන්නිවේදනයයි.
(3) ජනසන්නිවේදනයයි.
(4) මහජන සන්නිවේදනයයි.
(5) ශ්‍රව්‍ය සන්නිවේදනයයි.

22. අභ්‍යන්තර මහජන සම්බන්ධතා මෙවලම් පමණක් ඇතුළත් වරණය තෝරන්න.
(1) ප්‍රවෘත්ති නිවේදන, පුවත් හසුන, වාර්ෂික වාර්තා
(2) විද්‍යුත් තැපැල, මාධ්‍ය කට්ටල, පුවත් හසුන
(3) දැන්වීම් පුවරුව, වාර්ෂික වාර්තා, අභ්‍යන්තර ඇමතුම් පද්ධතිය
(4) යෝජනා පෙට්ටිය, ප්‍රදර්ශන, දැන්වීම් පුවරුව
(5) වාර්ෂික වාර්තා, අභ්‍යන්තර ඇමතුම් පද්ධතිය, ප්‍රවෘත්ති නිවේදන

23. සම්භාව්‍ය සංස්කෘතිය බිහිවීමට බොහෝදුරට බලපානු ලබන්නේ මින් කුමක් ද?
(1) සාම්ප්‍රදායික සංස්කෘතියයි.
(2) ජන සංස්කෘතියයි.
(3) ජනප්‍රිය සංස්කෘතියයි.
(4) ගෝලීය සංස්කෘතියයි.
(5) මාධ්‍ය සංස්කෘතියයි.

24. සන්නිවේදන ක්‍රියාවලියේ මූලිකාංග පමණක් ඇතුළත් වන වරණය කුමක් ද?
(1) ආකේතනකරණය, දෘෂ්ටිය, බලපෑම, ඝෝෂාව
(2) අත්දැකීම් පසුතලය, නාලිකා, ශ්‍රවණය, විකේතනකරණය
(3) ඝෝෂාව, ග්‍රාහකයා, සන්දර්භය, සංජානනය
(4) සන්නිවේදකයා, ප්‍රතිපෝෂණය, ප්‍රජානනය, නාලිකා
(5) සන්දර්භය, ඝෝෂාව, බලපෑම, අත්දැකීම් පසුතලය

25. පහත කරුණු සලකන්න.

| | නාමකරණය | විස්තරය |
|---|---|---|
| A | ඛණ්ඩකරණය | ප්‍රවෘත්තියක එන කරුණුවල සමාන අසමාන කොටස් සන්සන්දනය කිරීම |
| B | නිගමනය | පොදු කරුණු උපයෝගී කරගෙන විශේෂ දෙයක් පැහැදිලි කිරීමට උත්සාහ කිරීම |
| C | සංශ්ලේෂණය | තිබෙන කොටස් එකතුකර අලුත් ව්‍යුහයක් ගොඩනගා ගැනීම |

නාමකරණය හා ඊට ගැළපෙන විස්තරය දැක්වෙන්නේ,
(1) A හි පමණි.
(2) A හා B හි පමණි.
(3) A හා C හි පමණි.
(4) B හා C හි පමණි.
(5) A, B හා C යන සියල්ලෙහිම ය.

[ හතරවැනි පිටුව බලන්න

26. තොරතුරු, වෙළෙඳ ද්‍රව්‍යයක් (නිෂ්පාදනයක්) ලෙස හඳුන්වන මාධ්‍ය ප්‍රවණතාව කුමක් ද?
(1) මාධ්‍ය අභිසාරිතාව
(2) නිර්මහාපරිමාණකරණය
(3) පාරිභෝජනකරණය
(4) ගෝලීයකරණය
(5) භාණ්ඩකරණය

27. ශ්‍රී ලංකාවේ ශබ්ද විකාශනයෙන් ප්‍රචාරය වූ නිවේදනයක් ඇසීමෙන් පසුව නිමල් ඒ පිළිබඳ කුමාරට දැනුම්දීමට සිතුවේ ය. ඔහු ඒ පිළිබඳව තම ජංගම දුරකථනයෙන් කුමාර හා සාකච්ඡා කළේ ය. මෙහි දක්නට ලැබෙන සන්නිවේදන වර්ග අනුපිළිවෙළින් වන්නේ,
(1) මහජන, අන්තර්වර්ති හා පුද්ගලාන්තර සන්නිවේදනයයි.
(2) මහජන, ශ්‍රව්‍ය හා සමූහ සන්නිවේදනයයි.
(3) සමූහ, ජන හා පුද්ගලාන්තර සන්නිවේදනයයි.
(4) ශ්‍රව්‍ය, අන්තර්වර්ති හා පුද්ගලාන්තර සන්නිවේදනයයි.
(5) පුද්ගලාන්තර, සමූහ හා ජන සන්නිවේදනයයි.

28. මානව හිමිකම් පිළිබඳ විශ්ව ප්‍රකාශනය සම්බන්ධයෙන් මතු වූ සංවාදයක දී පහත අදහස් ඉදිරිපත් විය.
*A* - මෙය ගිවිසුමක් නොවන බැවින් සාමාජික රටවල් සඳහා සෘජු නෛතික බැඳීමක් නොමැත.
*B* - දෙවන ලෝක යුද්ධයේ ප්‍රතිඵලයක් ලෙස නිර්මාණය විය.
*C* - මෙම ප්‍රකාශනය එළි දැක්වූයේ 1948 වසරේ දී ය.
*D* - සන්නිවේදනය සම්බන්ධයෙන් අදාළ වන්නේ 19 වන වගන්තියයි.
*E* - සෑම වසරකම දෙසැම්බර් 01 වන දින විශ්ව මානව හිමිකම් දිනය ලෙස නම් කර ඇත.

ඉහත ප්‍රකාශ අතුරෙන් මානව හිමිකම් පිළිබඳ විශ්ව ප්‍රකාශනයට අදාළ **නොවන** අදහස වන්නේ,
(1) *A* ය.
(2) *B* ය.
(3) *C* ය.
(4) *D* ය.
(5) *E* ය.

29. කුමාර තමාට ඇති වූ ගැටලුවකින් මිදීමට ගුවන් විදුලියෙන් ප්‍රචාරය වූ ගීතයකට සවන්දීමට යොමුවිය. මෙම සන්නිවේදන අවස්ථාව හැඳින්විය හැක්කේ,
(1) ප්‍රජානනය ලෙසට ය.
(2) අපසරණය ලෙසට ය.
(3) නිෂ්කර්ෂණය ලෙසට ය.
(4) විස්තාරණය ලෙසට ය.
(5) සමාජ උපයෝගිතාව ලෙසට ය.

30. විසිරී පවතින විශාල ග්‍රාහක ක්ෂේත්‍රයක් වෙනුවට ඉලක්ක ග්‍රාහක පිරිසක් වෙත සන්නිවේදනය කිරීම, මූලික ලක්ෂණයක් වන්නේ,
(1) නිර්මහාපරිමාණකරණයේ ය.
(2) ඩිජිටල්කරණයේ ය.
(3) ජනසන්නිවේදනයේ ය.
(4) භාණ්ඩකරණයේ ය.
(5) අභිසරණයේ ය.

31. සමීක්ෂණයක දී ආරම්භයේ සිටම ස්ථාවරත්වයක් පෙන්නුම් කරනුයේ මින් කුමක් ද?
(1) දත්තවල ප්‍රමාණය
(2) පර්යේෂණ ගැටලුව
(3) සාහිත්‍ය විමර්ශනය
(4) දත්ත ඉදිරිපත් කරන ආකාරය
(5) නිගමනය

32. ජනමාධ්‍ය තුළ සිදුවන දොරටුපාල ක්‍රියාවලිය පිළිබඳ පන්තිකාමරයේ දී සිසුන් අතර සංවාදයක් ඇතිවිය.
මධු - මේ ක්‍රියාවලිය නිසා සංදේශ වාරණය වෙනවා.
රවී - ප්‍රවෘත්ති විකෘති වෙන්නත් පුළුවන්.
කමලා - ප්‍රවෘත්තිවල අගය වැඩිවෙන්නත් පුළුවන්.

මේ අතුරෙන් පිළිගත හැකි අදහස/අදහස් ඉදිරිපත් කරන්නේ,
(1) මධු පමණි.
(2) කමලා සහ මධු පමණි.
(3) රවී සහ කමලා පමණි.
(4) මධු සහ රවී පමණි.
(5) මධු, රවී සහ කමලා යන සියලු දෙනාම ය.

33. මහජන සම්බන්ධතා ප්‍රචාරණ ආකෘතියෙහි දක්නට ලැබෙන්නේ මින් කුමන ආකාරයේ සන්නිවේදනයක් ද?
(1) ඒකමාර්ගික සන්නිවේදනයකි.
(2) ද්විමාර්ගික සන්නිවේදනයකි.
(3) අසමබර සන්නිවේදනයකි.
(4) සංවෘත සන්නිවේදනයකි.
(5) වාචික සන්නිවේදනයකි.

[ පස්වැනි පිටුව බලන්න

34. මාධ්‍ය ග්‍රාහක දර්ශක (Ratings) මගින් පැහැදිලි වන්නේ,
(1) වාණිජකරණයයි.
(2) මහජන සම්බන්ධතාවයි.
(3) මාධ්‍ය ගුණාත්මකභාවයි.
(4) මාධ්‍ය පරිභෝජනයේ ස්වභාවයයි.
(5) මාධ්‍ය භාණ්ඩකරණයේ ඉහළයාමයි.

- අංක 35 සිට 38 දක්වා වූ ප්‍රශ්න සඳහා පහත දැක්වෙන රූපසටහන ඇසුරින් පිළිතුරු සපයන්න. S යනු එකිනෙකට වෙනස් සන්නිවේදන ආකෘති දෙකකට අයත් වන සන්නිවේදන ක්‍රියාවලියේ මූලාශ්‍රයබව උපකල්පනය කරන්න.




35. වම්පස ඇති සන්නිවේදන ආකෘතිය මගින් මුල්වරට හඳුන්වාදෙනු ලැබූ සන්නිවේදන මූලිකාංගය වන්නේ,
(1) අත්දැකීම් පසුතලයයි.
(2) ප්‍රතිපෝෂණයයි.
(3) බලපෑමයි.
(4) ඝෝෂාවයි.
(5) සන්දර්භයයි.

36. වම්පස සහ දකුණුපස පිහිටි සන්නිවේදන ආකෘති දෙකටම අයත් **නොවන** අංගයක් වන්නේ,
(1) සංදේශයයි.
(2) ඝෝෂාවයි.
(3) ආකේතනකරණයයි.
(4) විකේතනකරණයයි.
(5) ප්‍රතිපෝෂණයයි.

37. වම්පස ඇති සන්නිවේදන ආකෘතියෙහි S සිට D දක්වා ගමන් කරන සන්නිවේදන මූලිකාංගය දකුණුපස ආකෘතියේ දී නියෝජනය වන්නේ,
(1) S මගින් පමණකි.
(2) Q මගින් පමණකි.
(3) R මගින් පමණකි.
(4) P සහ Q මගින් පමණකි.
(5) P සහ R මගින් පමණකි.

38. වම්පස ආකෘතිය මගින් වක්‍ර ලෙස හඳුන්වා දෙන ලද, දකුණුපස ආකෘතියෙහි අන්තර්ගත අංග දෙකක් වන්නේ,
(1) සන්නිවේදකයා සහ සන්දර්භයයි.
(2) අත්දැකීම් පසුතලය සහ ඝෝෂාවයි.
(3) ආකේතනකරණය සහ විකේතනකරණයයි.
(4) අර්ථකථනය සහ බලපෑමයි.
(5) සම්ප්‍රේෂකය සහ අග්‍රස්ථානයයි.

39. මාධ්‍ය නිලධාරියා, මහජන සම්බන්ධතා නිලධාරියා සහ සිද්ධි කළමනාකරු යන භූමිකා තුනටම පොදු **නොවන** කාර්යය කුමක් ද?
(1) ප්‍රතිරූප ප්‍රවර්ධනය
(2) මූල්‍ය කළමනාකරණය
(3) පාර්ශ්වකරුවන් දැනුවත් කිරීම
(4) මාධ්‍ය සාකච්ඡා පැවැත්වීම
(5) අර්බුද කළමනාකරණය

40. ශ්‍රී ලංකාව තුළ විද්‍යුත් මාධ්‍ය විකාශනය සඳහා සංඛ්‍යාත පද්ධති වෙන් කර දෙනු ලබන්නේ,
(1) ශ්‍රී ලංකා ගුවන් විදුලි සංස්ථාව මගිනි.
(2) ශ්‍රී ලංකා රූපවාහිනී සංස්ථාව මගිනි.
(3) ජාතික බුද්ධිමය දේපල කාර්යාලය මගිනි.
(4) ශ්‍රී ලංකා විද්‍යුත් විකාශකයන්ගේ සංසදය මගිනි.
(5) ශ්‍රී ලංකා විදුලි සංදේශ නියාමන කොමිෂන් සභාව මගිනි.

**41.** මාධ්‍ය සමීක්ෂණයක් සඳහා නියැදිය තෝරා ගැනීම සම්බන්ධයෙන් **සදොස්** ප්‍රකාශය තෝරන්න.

(1) සමස්ත ජනගහනය නියෝජනය වන පරිදි නියැදිය තෝරා ගැනේ.
(2) ගැටලුවේ ස්වභාවය අනුව නියැදිය තෝරා ගත යුතු ය.
(3) නියැදිය තෝරා ගැනීමේ දී සංඛ්‍යාන විද්‍යාත්මක පදනම වැදගත් වේ.
(4) නියැදිය තේරීමේ දී පක්ෂපාතීවීමෙන් සමස්තය වඩා හොඳින් නියෝජනය වේ.
(5) හොඳින් සංකලනය වූ නියැදියකින් සමස්ත ජනගහනය පිළිබඳ නිගමනවලට එළඹිය හැකි ය.

**42.** නියාමනය පිළිබඳ පහත ප්‍රකාශ සලකන්න.

*A* - නීතිය මගින් ස්ථාපිත වූවකි.
*B* - ශාස්ත්‍රාලීය පර්යේෂකයන් සමග සම්බන්ධතාවක් තිබේ.

ඉහත *A* හා *B* යන ප්‍රකාශවලට අදාළවන නිවැරදි වර්ණය තෝරන්න.

(1) *A* - සහනියාමනය, *B* - අභ්‍යන්තර නියාමනය
(2) *A* - අභ්‍යන්තර නියාමනය, *B* - සහනියාමනය
(3) *A* හා *B* දෙකම - ව්‍යවස්ථාපිත නියාමනය
(4) *A* හා *B* දෙකම - සහනියාමනය
(5) *A* හා *B* දෙකම - අභ්‍යන්තර නියාමනය

**43.** කර්මාන්ත වාණිජ්‍යක රැකියාවක් සඳහා සම්මුඛ පරීක්ෂණයකට පෙනී සිටි රාජාට එම රැකියාව හිමි වීමට මහුගේ සමාජ මාධ්‍ය භාවිතයේ ප්‍රබලත්වය ද හේතු විය. මෙවැනි අවස්ථාවක දී වඩාත් වැදගත් සමාජ මාධ්‍ය වන්නේ,

(1) LinkedIn ය.
(2) Twitter ය.
(3) TikTok ය.
(4) Facebook ය.
(5) Instagram ය.

**44.** පහත ප්‍රකාශ අතුරෙන් බුද්ධිමය දේපළ පනත හා සම්බන්ධ **සදොස්** ප්‍රකාශය තෝරන්න.

(1) බුද්ධිමය දේපළ යන්න නිර්මාණාත්මකබව හා හිමිකාරීත්වය මත තීරණය වේ.
(2) සාධාරණ භාවිතය සඳහා වන ඉඩ කඩ, බුද්ධිමය දේපළ පිළිබඳ සීමාවන් උල්ලංඝනය නොකරයි.
(3) නිර්මාණ කාර්ය නීතිමය රෙගුලාසි මගින් ආරක්ෂා කෙරේ.
(4) බුද්ධිමය දේපළට අයත් වන්නේ ආර්ථික අයිතිවාසිකම් පමණි.
(5) අනුවර්තනය, පරිවර්තනය හා බෙදාහැරීම පිළිබඳ අයිතිය කතුවරයා සතුවේ.

**45.** පහත ආයතන හා විස්තර පිළිබඳ අවධානය යොමු කරන්න.

| ආයතන | විස්තර |
|---|---|
| 1. ශ්‍රී ලංකා විදුලි සංදේශ නියාමන කොමිෂන් සභාව | A. සභාපති සහ අධ්‍යක්ෂ මණ්ඩලය පත් කරනු ලබන්නේ ජනාධිපතිවරයා ය. |
| 2. ශ්‍රී ලංකා පුවත්පත් මණ්ඩලය | B. ශ්‍රී ලංකා පුවත්පත් ආයතනයට අනුබද්ධව 2003 වසරේ දී ස්ථාපනය කරන ලදි. |
| 3. ප්‍රසිද්ධ රැගුම් පාලක මණ්ඩලය | C. ජංගම දුරකථන භාවිතයේදී මතුවන ගැටලු පිළිබඳ පැමිණිලි කළ හැකි ය. |
| 4. ශ්‍රී ලංකා පුවත්පත් පැමිණිලි කොමිසම | D. සමාජ මාධ්‍ය ජාලවලට අදාළ පැමිණිලි ඉදිරිපත් කළ හැකි ය. |
| 5. ශ්‍රී ලංකා පරිගණක හදිසි ප්‍රතිචාර සංසදය | E. සාමාජිකයන් පත් කිරීම අදාළ විෂයභාර ඇමතිවරයාගේ කාර්යයකි. |

ඉහත ආයතන හා විස්තර ගැළපූ විට ලැබෙන නිවැරදි පිළිතුර වන්නේ,

(1) 1*A*, 2*B*, 3*C*, 4*D* සහ 5*E* ය.
(2) 1*C*, 2*A*, 3*E*, 4*B* සහ 5*D* ය.
(3) 1*C*, 2*D*, 3*E*, 4*B* සහ 5*A* ය.
(4) 1*E*, 2*D*, 3*C*, 4*B* සහ 5*A* ය.
(5) 1*D*, 2*C*, 3*E*, 4*A* සහ 5*B* ය.

[ හත්වැනි පිටුව බලන්න

**46.** රමේෂ් කිසියම් සිද්ධියක් පිළිබඳව තොරතුරු, පුවත්පත් වෙබ් අඩවියක පරීක්ෂා කරමින් සිටියේ ය. එහි කියවමින් සිටි කොටසේ තිබූ ඇඟිල්ලක සලකුණ මගින් තවත් තොරතුරු සමූහයක් වෙත යොමු වීමට ඔහුට හැකි විය. මෙම ක්‍රියාව පැහැදිලි කරන යෙදුම කුමක් ද?

(1) ඩිජිටල්කරණය
(2) අන්තර් ක්‍රියාකාරීත්වය
(3) ජාලගතකරණය
(4) අධිපාඨනීයත්වය
(5) ස්වයංකරණය

**47.** පුවෘත්තියක් ලෙස දැන්වීමක අන්තර්ගතය ඉදිරිපත් කිරීම හඳුන්වන්නේ,

(1) පුවත් විවරය ලෙසිනි.
(2) ලුහුඬු දැන්වීම ලෙසිනි.
(3) ඇඩ්වටෝරියල් ලෙසිනි.
(4) මුදල් ගෙවූ පුවෘත්ති ලෙසිනි.
(5) පුවෘත්ති නිවේදන ලෙසිනි.

**48.** සාම්ප්‍රදායික මාධ්‍ය පිළිබඳ නිවැරදි ප්‍රකාශය තෝරන්න.

(1) එහි හැඩය ඒකාකෘතික ය.
(2) එය සමාජානුයෝජනයෙන් බැහැර වූවකි.
(3) එය පරම්පරානුගතව පවතියි.
(4) බොහෝ විට කර්තෘ නාමික ය.
(5) එහි නම්‍යශීලීත්වයක් නොමැත.

**49.** 'නවෝත්පාදන විසරණය' යන්නෙන් අදහස් කරනුයේ කුමක් ද?

(1) සංවර්ධනය සඳහා ජනතාව සහභාගී කර ගැනීම
(2) තොරතුරු පුළුල් ලෙස පතුරුවා හැරීම
(3) සන්නිවේදනය හා සංවර්ධනය අතර සබඳතාව
(4) තාක්ෂණික ප්‍රවණතා හා අදහස් ව්‍යාප්ත කිරීම
(5) නවීකරණ ක්‍රියාවලිය සමාජයට හඳුන්වාදීම

**50.** පාරිභෝගික ආකර්ෂණය දිනාගැනීම සඳහා ආයතනික සමාජ වගකීම (CSR) ව්‍යාපෘති වැඩි වශයෙන් ක්‍රියාවට නංවනු ලබන්නේ,

(1) මාධ්‍ය මහජන සම්බන්ධතාවයේ දී ය.
(2) ව්‍යාපාර මහජන සම්බන්ධතාවයේ දී ය.
(3) වෘත්තීය මහජන සම්බන්ධතාවයේ දී ය.
(4) රාජ්‍ය මහජන සම්බන්ධතාවයේ දී ය.
(5) ආයතනික මහජන සම්බන්ධතාවයේ දී ය.

* * *

36242





ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (උසස් පෙළ) විභාගය, 2023 (2024)
கல்விப் பொதுத் தராதரப் பத்திர (உயர் தர)ப் பரீட்சை, 2023 (2024)
General Certificate of Education (Adv. Level) Examination, 2023 (2024)

සන්නිවේදනය හා මාධ්‍ය අධ්‍යයනය II
தொடர்பாடலும் ஊடகக் கற்கையும் II
Communication & Media Studies II

29 S II

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

**උපදෙස්:**
* ප්‍රශ්න **පහකට පමණක්** පිළිතුරු සපයන්න. එක් ප්‍රශ්නයකට හිමි ලකුණු සංඛ්‍යාව **40**කි.

1. සන්නිවේදනය විවිධාකාර වේ.
   (i) නව මාධ්‍යවල දක්නට ලැබෙන ලක්ෂණ **දෙකක්** නම් කරන්න. (ලකුණු 04)
   (ii) අන්තර්වර්ති පුද්ගල සන්නිවේදනයේ ප්‍රයෝජන **දෙකක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 08)
   (iii) විල්බර් ශ්‍රෑම් විසින් දක්වන ලද ජනමාධ්‍ය මගින් ඉටු කළ යුතු ප්‍රධාන භූමිකා **තුන** පිළිබඳ විග්‍රහයක් කරන්න. (ලකුණු 12)
   (iv) නිර්මාණකරුවෙකුට අන්තර් සංස්කෘතික අධ්‍යයනය වැදගත්වන ආකාරය කරුණු **හතරක්** ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 16)

2. ජනමාධ්‍ය ක්‍රියාවලියේ දී ග්‍රාහක අවධානය ලබා ගැනීම වැදගත් වේ.
   (i) ජන සන්නිවේදනයේ මූලික ලක්ෂණ **හතරක්** නම් කරන්න. (ලකුණු 04)
   (ii) විචාරශීලී ග්‍රාහකයෙකු සතු කුසලතා **දෙකක්** කෙටියෙන් පහදන්න. (ලකුණු 08)
   (iii) ව්‍යාපාර මහජන සම්බන්ධතාවේ දී ග්‍රාහකයා ආකර්ෂණය කරගැනීම සඳහා යොදා ගත හැකි උපක්‍රම **තුනක්** විස්තර කරන්න. (ලකුණු 12)
   (iv) රටක මාධ්‍ය ප්‍රතිපත්තියේ ඇති වැදගත්කම ප්‍රධාන කරුණු **හතරක්** යටතේ පැහැදිලි කරන්න. (ලකුණු 16)

3. සමකාලීන මාධ්‍ය ප්‍රවණතා හේතුවෙන් ග්‍රාහකයින්ගේ සන්නිවේදන කුසලතා වර්ධනය වී ඇත.
   (i) වාචික සන්නිවේදන කුසලතා වර්ධනයට ඉවහල් වන කරුණු **හතරක්** නම් කරන්න. (ලකුණු 04)
   (ii) අතථ්‍ය සන්නිවේදනය අධ්‍යාපන කාර්ය සඳහා යොදා ගත හැකි ආකාර **දෙකක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 08)
   (iii) සාම්ප්‍රදායික මාධ්‍යයන්හි විශේෂතා **තුනක්** උදාහරණ සහිතව විස්තර කරන්න. (ලකුණු 12)
   (iv) ශ්‍රී ලංකාවේ මාධ්‍ය ක්ෂේත්‍රයට අදාළ ආයතනික ප්‍රවණතා **හතරක්** නම් කර ඉන් **දෙකක්** උදාහරණ ඇසුරින් විස්තර කරන්න. (ලකුණු 16)

4. (i) ශරීර භාෂාවේ දක්නට ලැබෙන නිර්වාචික සන්නිවේදන ක්‍රම **දෙකක්** නම් කරන්න. (ලකුණු 04)
   (ii) පාසල් මාධ්‍ය සමාජය තුළ සමූහ සන්නිවේදනය භාවිත කිරීමේ ප්‍රයෝජන **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 08)
   (iii) ඇරිස්ටෝටල් සන්නිවේදන ආකෘතියේ මූලිකාංග **තුනක්** උදාහරණ සහිතව පහදන්න. (ලකුණු 12)
   (iv) ගැමි නාටක විවිධ සන්නිවේදන අවස්ථා ජනනය කරයි. මෙම ප්‍රකාශය ඔබගේ සන්දර්භයට අදාළ ගැමි නාටක **දෙකක්** ඇසුරින් වෙන වෙනම පැහැදිලි කරන්න. (ලකුණු 16)

[දෙවැනි පිටුව බලන්න

5. (i) ගුවන්විදුලි මාධ්‍යයේ ලක්ෂණ **දෙකක්** නම් කරන්න. (ලකුණු 04)

(ii) කථන සන්නිවේදන කුසලතා වර්ධනයට ඉවහල් වන කරුණු **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 08)

(iii) වර්තමානයේ සාක්ෂරතා සංකල්පය විවිධ ක්ෂේත්‍ර ඔස්සේ පුළුල් වී ඇත. පහතින් දැක්වෙන ක්ෂේත්‍ර දෙක පිළිබඳ නිදසුන් සහිතව පැහැදිලි කරන්න.

(අ) දෘශ්‍ය සාක්ෂරතාව (visual literacy)

(ආ) පරිගණක සාක්ෂරතාව (computer literacy) (ලකුණු 12)

(iv) ගෝලීය සංස්කෘතිය වර්තමාන සමාජ වෙනස්වීම්වලට බලපා ඇති ආකාරය ප්‍රධාන කරුණු **හතරක්** ඇසුරින් පැහැදිලි කරන්න. (ලකුණු 16)

6. (i) සිනමා මාධ්‍යයේ ප්‍රධාන ප්‍රවර්ග **දෙකක්** නම් කරන්න. (ලකුණු 04)

(ii) ජන සන්නිවේදන ක්‍රියාවලියේ දී පණිවිඩයට සිදුවිය හැකි හානිය, ප්‍රධාන බාධක වර්ග **දෙකට** අදාළව විස්තර කරන්න. (ලකුණු 08)

(iii) මාධ්‍ය විචාරය කිරීමේ දී යොදාගත හැකි දෘෂ්ටිවාද **තුනක්** පැහැදිලි කරන්න. (ලකුණු 12)

(iv) "සමාජ මාධ්‍යයන්ගේ සමාජ බලපෑම ධනාත්මක මෙන්ම ඍණාත්මක විය හැකි ය." ධනාත්මක හා ඍණාත්මක බලපෑම් **දෙක** බැගින් වෙන වෙනම නිදසුන් සහිතව පැහැදිලි කරන්න. (ලකුණු 16)

7. ප්‍රාදේශීය සංවර්ධන ව්‍යාපෘතියක් සකස් කරමින් සිටි විශේෂඥයෙකුට රාජ්‍ය ආයතන කිහිපයක් පිළිබඳ තොරතුරු අවශ්‍ය විය.

(i) තොරතුරු අයිතිය පනත යටතේ ආයතනවලින් ලබාගත **නොහැකි** තොරතුරු වර්ග (ව්‍යතිරේක) **දෙකක්** නම් කරන්න. (ලකුණු 04)

(ii) මහජනයාගෙන් තොරතුරු ලබාගැනීමට ප්‍රශ්නාවලියක් සකස් කර තිබුණි. ප්‍රශ්නාවලියක් සකස් කිරීමේ දී **නොකළ** යුතු කරුණු **දෙකක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 08)

(iii) සංවර්ධන ව්‍යාපෘතියක් ක්‍රියාත්මක කිරීමේ දී ගැටුම් මතු විය හැකි ය. ගැටුම් නිරාකරණයේ දී ගනු ලබන පියවර **තුනක්** විස්තර කරන්න. (ලකුණු 12)

(iv) සංවර්ධනය පිළිබඳ තොරතුරු සමාජගත කිරීමේ ක්‍රියාවලියේ දී මාධ්‍ය අභිසරණය බලපානු ලැබේ. පහත මාධ්‍ය ඇසුරින් මාධ්‍ය අභිසරණය පැහැදිලි කරන්න.

(අ) පුවත්පත

(ආ) ගුවන්විදුලිය

(ඉ) රූපවාහිනිය

(ඊ) සිනමාව (ලකුණු 16)

* * *